9132



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# 2558 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2014 (2015)

S 4

## (04) බෞද්ධ සංස්කෘතිය

පැ තුනයි

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් **හතරකින්** සමන්විත වේ. යටත් පිරිසෙයින් **එක්** කොටසකින් ප්‍රශ්න **එකක්** වත් ඇතුළත් වන සේ තෝරාගෙන ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

### I කොටස

1. (අ) බෞද්ධ විමුක්ති මාර්ගය සීල, සමාධි හා ප්‍රඥා යන පියවර තුනක් යටතේ සකස් වී ඇති ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(ආ) සදාචාරාත්මක පැවැත්ම හා සීලය අතර පවත්නා සම්බන්ධතාව විමර්ශනය කරන්න. (ලකුණු 06 යි)

(ඉ) චාරිත්‍ර සීලය හා වාරිත්‍ර සීලය හඳුන්වා මේ දෙකෙහි ක්‍රියාකාරිත්වය කෙරෙහි බලපාන සාධක විභාග කරන්න. (ලකුණු 08 යි)

2. (අ) බෞද්ධ ශ්‍රාවක පිරිස ගිහි-පැවිදි යනුවෙන් දෙකොටසකට බෙදා දැක්වීමේ හේතු යුක්ති පහදන්න. (ලකුණු 06 යි)

(ආ) කුල දරුවෙකු පැවිදි බිමට ඇතුළත් කිරීමේ දී අනුගමනය කෙරෙන චාරිත්‍ර විධි පිළිවෙළින් දක්වන්න. (ලකුණු 06 යි)

(ඉ) සාමණේර පැවිද්දෙකු විසින් පිළිපැදිය යුතු ශීලය විමර්ශනය කරන්න. (ලකුණු 08 යි)

3. (අ) උපසම්පදා කර්මයේ දී ප්‍රමුඛත්වය ගන්නා ආචරිය, උපජ්ඣාය හා කම්මාචරිය යන තෙරවරුන්ගේ කාර්යභාරය පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(ආ) ශික්ෂුවගේ තුන්සිවුරු හඳුන්වා ඒවා පරිහරණයේ දී පිළිපැදිය යුතු සේඛියා ශික්ෂාපද ගැන විස්තරයක් කරන්න. (ලකුණු 06 යි)

(ඉ) "බෞද්ධ ගිහියාට යෝග්‍ය වන්නේ පවිත්‍ර හා සරල ඇඳුම් පරිහරණයට පුරුදු වීමයි." විමසන්න. (ලකුණු 08 යි)

### II කොටස

4. (අ) ශ්‍රී ලංකාවේ බෞද්ධ ස්තූප නිර්මාණයේ ආරම්භය හඳුන්වා, අනුරාධපුරයේ හා පොළොන්නරුවේ දක්නට ලැබෙන ස්තූප පිළිබඳ විමසීමක් කරන්න. (ලකුණු 06 යි)

(ආ) 'චෛතිය ඝර' යනු කවරේ දැයි හඳුන්වා, ලක්දිව දක්නට ලැබෙන පැරණි චෛතිය ඝර පිළිබඳව විස්තර කරන්න. (ලකුණු 06 යි)

(ඉ) බෞද්ධ ස්තූපවල දක්නට ලැබෙන ආකෘති කවරේ දැයි හඳුන්වා, මෙයින් ලක්දිව වඩාත් ජනප්‍රිය වී ඇති ආකෘති පෙන්වා දෙන්න. (ලකුණු 08 යි)

5. (අ) පැරණි බෞද්ධ විහාර අබියස තනා ඇති මුරගල් පිළිබඳව හඳුන්වා, ඒවායේ ආරම්භය හා විකාශනයට අදාළ විවිධ අවස්ථා විමර්ශනය කරන්න. (ලකුණු 06 යි)

(ආ) චෛත්‍ය අසල දක්නට ලැබෙන වාහල්කඩවල විශේෂතා පැහැදිලි කොට ලංකාවේ අනුරපුර යුගයේ දක්නට ලැබෙන වාහල්කඩ **දෙකක්** පිළිබඳව විස්තර සපයන්න. (ලකුණු 06 යි)

(ඉ) අනුරපුර යුගයට අයත් සඳකඩපහණෙහි සැලැස්ම විස්තර කරමින් මෙහි කැටයම් පිළිබඳව මහාචාර්ය සෙනරත් පරණවිතාන මහතා පළ කළ අදහස් විමර්ශනය කරන්න. (ලකුණු 08 යි)

[ දෙවන පිටුව බලන්න.

### III කොටස

6. (අ) සිංහලයේ සම්භාව්‍ය සාහිත්‍යයෙහි ඇතුළත් බෞද්ධ ගී කාව්‍ය ගැන විස්තරයක් කරන්න. *(ලකුණු 06 යි)*

(ආ) වෑත්තෑවේ හිමියන්ගේ ගුත්තිල කාව්‍යය ජනප්‍රිය ජාතක කථා කාව්‍යයක් වශයෙන් සැලකීමට හේතු වූ කරුණු පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

(ඉ) සඳකිඳුරුදා කාව්‍යයෙහි කර්තෘ, කාලය හා වස්තු විෂය සඳහන් කර, රසවත් කාව්‍යයක් වශයෙන් එය ජනප්‍රිය වීමට හේතු වූ කරුණු විමර්ශනය කරන්න. *(ලකුණු 08 යි)*

7. (අ) විද්‍යාචක්‍රවර්ති පඬිවරයා විසින් රචිත ග්‍රන්ථ නම් වශයෙන් හඳුන්වා එයින් එකක් පිළිබඳව විස්තර කරන්න. *(ලකුණු 06 යි)*

(ආ) ගුරුළුගෝමි පඬිවරයාගේ අමාවතුරෙහි අරමුණ හා වස්තු විෂය පිළිබඳව විමසීමක් කරන්න. *(ලකුණු 06 යි)*

(ඉ) ධර්මසේන හිමියන්ගේ සද්ධර්ම රත්නාවලිය පිළිබඳ විස්තරයක් කරන්න. *(ලකුණු 08 යි)*

### IV කොටස

8. (අ) මියන්මාරයට (බුරුමයට) බුදුදහම හඳුන්වා දීම ආශ්‍රිතව පවත්නා මතවාද පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

(ආ) IV බුවනෙකබා (ක්‍රි.ව. 1470-1478) රාජ්‍ය සමයේ දී ශ්‍රී ලංකාවට පැමිණි මියන්මාර (බුරුම) භික්ෂු පිරිසකගේ සහභාගිත්වයෙන් කැලණි නදියේ උදකුක්ඛේප සීමාවේ දී පවත්වන ලද උපසම්පදා උත්සවය පිළිබඳ විස්තරයක් කරන්න. *(ලකුණු 06 යි)*

(ඉ) බුදුදහමේ බලපෑම නිසා මියන්මාර (බුරුම) සමාජයෙහි මෙකල පවා දක්නට ලැබෙන බෞද්ධාගමික ප්‍රබෝධය පිළිබඳ විමර්ශනයක් කරන්න. *(ලකුණු 08 යි)*

9. (අ) වර්තමානයේ තායිලන්ත රජය මෙන්ම මහජනතාව ද බුද්ධාගමට විශේෂස්ථානයක් ලබා දී ඇති ආකාරය නිදසුන් මගින් පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

(ආ) චීනයේ භික්ෂුණී ශාසනයේ ආරම්භය පිළිබඳව විස්තරයක් කරන්න. *(ලකුණු 06 යි)*

(ඉ) ජපානයේ පවත්නා බෞද්ධ ආගමික සම්ප්‍රදාය දෙකක් පිළිබඳව විස්තර සපයන්න. *(ලකුණු 08 යි)*

* * *